# 2556 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2011 (2012)

**S 1**

## (01) ථෙරවාදී බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

(ප්‍රශ්න **හතරකට** පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

2. (i) ධම්මචක්කප්පවත්තන සූත්‍රයේ එන "ඉදං ඛො පන භික්ඛවෙ දුක්ඛ නිරොධ ගාමිනී පටිපදා අරියසච්චං ........" යනාදි පාඨය සම්පූර්ණයෙන් ලියන්න. (ලකුණු 04 යි)
   (ii) අරි අටඟි මගට අයත් පළමුවැන්න අදාළ සූත්‍ර ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)
   (iii) "මධ්‍යම ප්‍රතිපදාව" පැහැදිලි කොට, එය අනුගමනය කිරීමෙන් නිවන ප්‍රත්‍යක්ෂ වන අන්දම විස්තර කරන්න. (ලකුණු 08 යි)

3. (i) ත්‍රිලක්ෂණයට අයත් "අනිච්ච" සැකෙවින් හඳුන්වන්න. (ලකුණු 03 යි)
   (ii) "ලෝකය ශූන්‍යය" සළායතන, අලගද්දූපම සූත්‍රාදිය ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 07 යි)
   (iii) බුදු දහම ආත්මවාදය බැහැර කොට අනාත්මවාදය තහවුරු කරන ආකාරය තථාගත දේශනාව ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 08 යි)

4. (i) චක්ඛු ආදී "උපාදාය රූප" නම් කරන්න. (ලකුණු 04 යි)
   (ii) "රූපක්ඛන්ධය" හඳුන්වන්න. (ලකුණු 06 යි)
   (iii) "මම ය, මාගේය යි ගතයුත්තක් නැත. ඇත්තේ ඛන්ධ, ධාතු, ආයතනාදියයි."
   මෙම ඉගැන්වීම ඇසුරින් නිවන් මග හෙළි කරන අයුරු විමසන්න. (ලකුණු 08 යි)

5. (i) "සයංකතවාදය" පැහැදිලි කරන්න. (ලකුණු 04 යි)
   (ii) "සළායතන පච්චයා ඵස්සො" මෙයට කෙටි විවරණයක් සපයන්න. (ලකුණු 06 යි)
   (iii) "යමෙක් පටිච්ච සමුප්පාදය අවබෝධ කර ගනී ද හේ ධර්මය අවබෝධ කර ගනී ......."
   මෙම විග්‍රහයට අනුව පටිච්ච සමුප්පාදය පිළිබඳ සාමාන්‍ය හැඳින්වීමක් කර, ඉන් ප්‍රාග් බෞද්ධ හා බුද්ධ කාලීන දෘෂ්ටිවාද ඛණ්ඩනය කළ අයුරු විමසන්න. (ලකුණු 08 යි)

6. (i) "ඉධ නන්දති පෙච්ච නන්දති" ආදී ගාථාව සම්පූර්ණ කරන්න. (ලකුණු 04 යි)
   (ii) ඉහත ගාථාවේ අදහස සම්පූර්ණයෙන් ම ලියා දක්වන්න. (ලකුණු 06 යි)
   (iii) එම ගාථාවට අනුව "පුඤ්ඤ" යනු දෙලොව සතුටට හේතුවන සත්ක්‍රියා බව පහදන්න. (ලකුණු 08 යි)

7. (i) "නිබ්බේධික (පරියාය) සූත්‍රයට අනුව අභිවාදනාදි යම් යම් ක්‍රියා නොකර සිටීම ද, කර්ම හැටියට සැලකේ." එයට නිදසුන් **හතරක්** දෙන්න. (ලකුණු 04 යි)
   (ii) දුක් සැප සියල්ල පූර්ව කර්මයෙන් සිදුවේ ද? අදාළ සූත්‍ර ඇසුරින් නිර්ණය කරන්න. (ලකුණු 06 යි)
   (iii) ජෛන කර්මවාදය හා බෞද්ධ කර්ම විභාගය අතර ඇති සම විසමතා කවරේදැයි පරීක්ෂා කරන්න. (ලකුණු 08 යි)

8. (i) බෝධිපාක්ෂික ධර්ම එනමින් හඳුන්වන්නේ ඇයි? සැකෙවින් දක්වන්න. (ලකුණු 04 යි)
   (ii) කාමච්ඡන්ද නීවරණය විස්තර කොට, එය දුරු කිරීමට උපකාරවන ධර්ම **හය** දක්වන්න. (ලකුණු 06 යි)
   (iii) රාග චරිත ආදී ලෙස චරිත **හය** නම් කර, ඉන් **තුනක** චරිත ලක්ෂණ හා ගැළපෙන කර්මස්ථාන දැක්වෙන සටහනක් පිළියෙල කරන්න. (ලකුණු 08 යි)

***